# මාළුවකුගේ අණ

එකෝමත් එක රටක මහලු මිනිහෙකුට පුත්තු තුන් දෙනෙක් හිටියා. වැඩිමල් දෙදෙනා නුවණක්කාරයෝ. බාලයා මෝඩයෙක්. එයාගේ නම එමේලියා.

අයියලා දෙදෙනා වැඩ කරනවා. එමේලියා උදුන උඩ නැගලා ඉන්නවා. කිසි වැඩක් පලක් කරන්ට ඔහු කැමති නැහැ.

දවසක් දා අයියලා දෙදෙනා කඩ පොළට ගියා. එමේලියාගේ නෑනලා දෙදෙනා ඔහුට කතා කළා.

"එමේලියා ගිහින් වතුර ගෙනෙන්."

ඔහු උදුන උඩ ඉඳගෙන ඉන්නවා.

"මට බැහැ ...."

"එමේලියා වතුර ගෙනෙන්. නැතිනම් නුඹට අයියලාගෙන් තෑගි ලැබෙන්නේ නැහැ."

"හොඳයි, වතුර ගේන්නම්."

එමේලියා උදුනෙන් බිමට බැස්සා. සපත්තු දාගත්තා. කබාය ඇඳගත්තා. බාල්දි දෙකකුයි පොරොවකුයි අරගෙන ගඟට ගියා.

ගඟේ වතුර මිදිලා. එමේලියා අයිස් තට්ටුවක් පොරොවෙන් කඩලා හිලක් හදා ගත්තා. අයිස් තට්ටුටවට යටින් වතුර, ඔහු බාල්දි දෙකට ම වතුර පුරවා ගත්තා. අයිස් තට්ටවුට යටින් ගඟේ මාළුවෙක් ඉන්නා හැටි එමේලියා දැක්කා. ඔහු හෙමින් සීරුවේ මාළුවාගේ වලිගයෙන් අල්ලා උඩ ගොඩ ගත්තා.

"ලොකු මාළුවෙක්. මුව තම්බාගෙන කනවා."

ඔන්න හිටි හැටියේ ම මාළුවා මිනිහෙක් වගේ කතා කරනවා. "එමේලියා නුඹ මාව ගඟට දාපන්. මම නුඹට පිහිට වෙන්නම්."

එමේලියා දත් විරිත්තලා හිනා වුණා.

"නුඹ කොහොමද පිහිට වෙන්නෙ.... නැහැ. නුඹව මගේ නෑනලාට දෙනවා. මාළු සුප් හොද්දක් හදවා ගන්නවා. බොහොම රසට හිටීවි." මාළුවා ආයෙමත් කන්නලව් කළා.

"එමේලියා, එමේලියා, මාව ආපහු ගඟට දාපන්. නුඹ කියන හැම දෙයක් ම මම නුඹට කර දෙන්නම්."

"නුඹ මාව රවටන්නේ නැතෙයි කියලා ඉස්සෙල්ලා මට ඔප්පු කරපන්. අන්න එතකොට මම ගඟට දාන්නම්."

"එමේලියා, එමේලියා, නුඹට දැන් ඕන මොනවද කියලා කියපන්" මාළුවා කීවා.

"වතුර එක් බින්දුවක්වත් ඉහිරෙන්නේ නැතිව මේ වතුර බාල්දි දෙක ගෙදර යන්ට ඕන...."

"එහෙනම් මා කියන හැටි මතක තියා ගෙන, නුඹට ඕන වේලාවට මෙහෙම කියාපන්" මාළුවා කීවා.

**"මාළුවාගේ අණ අහපන් - මට ඕනෑ දේ කරපන්"**





එමේලියාත් ඒ විදිහට ම කීවා.

**"මාළුවාගේ අණ අහපන් - මට ඕනෑ දේ කරපන් වතුර බාල්දි ගෙදර යමන්."** කිව්වා විතරයි, වතුර බාල්දි දෙක පණ ඇති සතුන් දෙදෙනකු වගේ කන්ද නගිනවා. එමේලියා පුදුම මාළුවාව ගඟට දාලා බාල්දිවලට පිටුපසින් ගියා.

වතුර බාල්දි දෙක ගම හරහා යනවා. ගම්මු මේක දැකලා පුදුම වුණා. එමේලියා හිනා වෙවී යනවා. වතුර බාල්දි දෙක දොර ඇරගෙන ගෙදරට ඇතුළු වෙලා දිය මැස්ස උඩ නැගලා ඉන්නවා. ටික වේලාවක් ගියාට පස්සේ ආයෙමත් නෑනලා එමේලියට කතා කළා.

"එමේලියා මොකද නුඹ උදුන උඩට වෙලා නිදා ගෙන ඉන්නේ. පලයන් දර කඩාගෙන වරෙන්"

"මට බැහැ...."



"නුඹ දර කඩාගෙන ආවේ නැති නම් නුඹට අයියලාගෙන් තෑගි බෝග ලැබෙන්නේ නැහැ."

එමේලියා බොහොම අකමැත්තෙන් උදුනෙන් බිමට බැස්සා. මාළුවා ගැන මතක් වෙලා ඔහු හෙමිහිට මෙහෙම කිව්වා.

**"මාළුවාගේ අණ අහපන් – මට ඕනෑ දේ කරපන් පොරොව ගිහින් දර කපපන් දර ඉබේට ම ඇවිත් ලිප ළඟ ගොඩ ගැසියන්"**

පොරොව පණ ඇති සතකු වගේ ගිහිල්ලා දර කපනවා, පලනවා. දර කෑලි පෙළ ගැහිලා ලිප ළඟ හිට ගත්තා.

ඔන්න ටික කාලයක් ගත වුණා. ආයෙමත් නෑනලා එමේලියාට කතා කළා.

"දර ඉවර වුණා. නුඹ කැලෑවට ගිහිල්ලා දර කඩාගෙන වරෙන්"

"නුඹලා ඉන්නේ මොකට ද?" එමේලියා උදුන උඩ ඉඳගෙන අහනවා.



"අපි ඉන්නේ මොකටද? කැලේට ගිහිල්ලා දර කැඩීම අපේ වැඩක් ද?"

"මට යන්න හිත නැහැ."

"එහෙනම් නුඹට තෑගි ලැබෙන්නේ නැහැ."

නොගිහින් ඉන්ට බැහැ. එමේලියා උදුනෙන් බිමට බැස්සා. සපත්තු දා ගත්තා. කබාය ඇඳ ගත්තා. කඹයකුයි, පොරවයි අරගෙන හිම යානය උඩ වාඩි වුණා.

"කෙල්ලනේ කඩුල්ල ඇරපල්ලා!"

"මෝඩයා.... නුඹට පිස්සු ද? අස්පයා බඳින්නේ නැතුව මොකද හිම යානයේ වාඩි වුණේ ?"



“මට අස්පයෝ එපා”

නෑනලා කඩුල්ල ඇරියා. එමේලියා හෙමින් මෙහෙම කිව්වා.

**“මාළුවාගේ අණ අහපන් - මට ඕනෑ දේ කරපන් ! හිම යානය කැලේට පලයන්”**

හිම යානය ඉබේට ම කැලේට යන්ට පටන් ගත්තා. අස්වයින්ටත් බැහැ ඒ තරම් වේගයෙන් දුවන්ට. කැලයට යන පාර තියෙන්නේ නගරය හරහා. ඉබේ ගමන් කරන හිම යානයට මිනිසුන් හැප්පෙනවා. උන් යට වෙනවා. ඒ පාර මිනිස්සු කෑ ගහන්ට පටන් ගත්තා “ඔය මිනිහාව අල්ලාපියව්, අල්ලාපියව්! හිම යානය එළවන මිනිහාව අල්ලාපියව්!” කොහේ අල්ලන්ට ද, එය කැලයට ආවා.

එමේලියා කිව්වා,

**“මාළුවාගේ අණ අහපන් - මට ඕනෑ දේ කරපන් පොරොව, හොඳට වේලිලා තියෙන දර කපාපන්. කැපිච්ච දර නුඹලා හිම යානයට ගොඩ ගැසියන්.**





**කඹය නුඹ දර ගොඩ හොඳට බැඳපන් ....”**

පොරොව වේළුණු දර හොය හොයා ගිහින් කපනවා. දර කෑලි ඉබේට ම ගොඩ ගැහෙනවා. කඹය දර ගොඩ එක් කරලා හොඳට බැන්දා. ඊට පස්සේ එමේලියා පොරවට අණ කළා හොඳ පොල්ලක් කපා ගෙන එන්නට. එමේලියා හිම යානය උඩ වාඩි වෙලා මෙහෙම කිව්වා.

**“මාළුවාගේ අණ අහපන් මට ඕනෑ දේ කරපන් - හිම යානය ඉබේට ම ගෙදර පලයන් ....”**

ඔන්න ආයෙමත් හිම යානය නගරය හරහා යනවා. ඒ නගරයේ මිනිසුන් තමා හිම යානයට හැප්පුණේ. යටවුණේ. නගරෙ මිනිස්සු හිම යානය එනකල් ඉන්නවා ඒක අල්ලා ගන්න. එමේලියාව මිනිස්සු අදිනවා. ගහනවා, ඔහුට බණිනවා. එන පොට හොඳ නැහැ. එමේලියා හෙමිහිට මාළුවාගේ අණ මැතුරුවා.



**"මාළුවාගෙ අණ අහපන් - මට ඕනෑ දේ කරපන් තඩි පොල්ලෙන්, මට ගහපු එවුන්ට බැට දීපන්...."**

පොල්ල දුන්නක් වගේ පැනලා මිනිසුන්ට පට-පට ගාලා බැට දෙනවා.

මිනිස්සු බයේ පැනලා දිව්වා. එමේලියා ගෙදර ඇවිත් උදුන උඩට නැගලා සැපට ඉන්නවා.

ඔහොම ටික දවසක් ගත වුණා. රටේ රජතුමාට එමේලියාගේ හපන්කම් ගැන ආරංචි වුණා. ඔහු ඇමතියකු යැව්වා එමේලියාව අඬගහගෙන එන්ට, ඇමතියා එමේලියා ඉන්න ගමට ඇවිල්ලා, ඔහුගේ ගෙපැල සොයාගෙන ඇතුළු වුණා.

"තෝ ද බොල මෝඩ එමේලියා?"





එමේලියා උදුන උඩට වෙලා අහනවා.

"නුඹට මොනවද ඕන?"

"ඉක්මණට ඇඳගනින්. රජතුමා ළඟට මම නුඹව ගෙනියන්නම්"

"මට යන්ට බැහැ."

ඇමතියාට කේන්ති ගිහිල්ලා ඔහු එමේලියාගේ කම්මුලට පහරක් ගැහුවා. එමේලියා හෙමිහිට මෙහෙම කිව්වා.



"මාළුවාගේ අණ
අහපන් - මට
ඕනෑ දේ කරපන්
අර පොල්ලෙන්
ඇමතියාට ගහපන්"

පොල්ල දුන්නක් වගේ පැනලා, ඇමතියාගේ පිටට 'පට-පට' ගාලා පහර දුන්නා. ඇමති බොහොම අමාරුවෙන් පැනලා දිව්වා. ඇමතියාට රජුගේ කීම ඉටු කරන්නට බැරි වුණ හින්දා රජතුමා පුදුම වුණා. එමේලියාව ගෙනෙන්ට මහ ඇමතියාවට පිටත් කළා.

“නුඹ ගිහිල්ලා එමේලියා මෝඩයාව කැඳවාගෙන වරෙන්. නැතිනම් නුඹේ හිස ගසලා දමනවා”

මහ ඇමතියා පලතුරු, පැණි රස කැවිලි අරගෙන එමේලියා හමුවන්න ගියා.

“එමේලියා, එමේලියා, නුඹ මොකද ලිප උඩට වෙලා ඉන්නේ? අපි යමු රජතුමා බලන්ට”

“මෙතන උණුසුම්, සැපයි.”

“එමේලියා, එමේලියා, රජතුමා නුඹට රජ බොජුන් දේවි. අපි යමු” මහ ඇමති කීවා.

“මට යන්ට බැහැ”





"එමේලියා, එමේලියා, රජතුමා නුඹට රතු කබායකුයි, තොප්පියකුයි, සපත්තු දෙකකුයි තෑගි දේවි"

එමේලියා කල්පනා කරලා, කල්පනා කරලා මෙහෙම කිව්වා.

"හොඳයි, ඇමතිතුමා ඉස්සරහින් යන්න, මම පස්සෙන් එන්නම්."

මහ ඇමති ගියා. එමේලියා ලිප උඩ වාඩි වෙලා මාළුවාගේ අණ මතුරුවා.

**"මාළුවාගේ අණ අහපන් - මට ඕනෑ දේ කරපන්**
**ලිප මාත් අරගෙන රජ ගෙදරට පලයන්"**



ගෙදර බිත්ති පුපුරලා ගියා. වහල දෙදරුවා. උදුනයි, ලිපයි පණ ඇති සතෙකු වගේ පාර දිගේ දුවනවා. රජතුමා ජනේලයෙන් බලා පුදුම වුණා.

"මේ මහා පුදුමය මොකක් ද?"



මහ ඇමතියා රජුට විස්තර කළා. "එමේලියා ඔබ වහන්සේ හමු වෙන්න එනවා."
රජ මිදුලට ආවා.

"එමේලියා, නුඹට විරුද්ධව මිනිස්සු පැමිණිලි කරනවා. නුඹ මිනිසුන්ව හිම යානයට යට කරලා තියෙනවා" රජු කීවා.

"ඒගොල්ල මොකට ද, මගේ හිම යානයට රිංගන්ට ආවේ?" එමේලියා ඇහුවා.

මේ වේලාවේ දී රජුගේ දුව මාර්යා කුමාරී ජනේලයෙන් එමේලියා දිහා බැලුවා. එමේලියා කුමරියව දැකලා හෙමිහිට මාළුවාගේ අණ මැතුරුවා.

**"මාළුවාගේ අණ අහපන් - මට ඕනෑ දේ කරපන්
රජුගේ දූ කුමරිය මට ආලය කරපන් - ලිප මාත්
අරගෙන ගෙදර පලයන්."**



ලිපයි, උදුනයි පණ ඇති සතෙකු වගේ වේගයෙන් ගෙදර ගිහිල්ලා හිටි තැනම හිටියා. එමේලියා උදුන උඩට වෙලා සැපට ඉන්නවා. රජ ගෙදර මහා කලබලයක්. මාර්යා කුමරිය එමේලියා ගැන හිත හිතා අඬනවා, ඔහු නැතුව ජීවත් වෙන්ට බැරිය කියනවා, පිය රජතුමාට කියනවා එමේලියාට ඇයව සරණ පාවා දෙන්ටයි කියලා. රජා කෝප වුණා. මහ ඇමතියාට අණ කළා.



"නුඹ ගිහිල්ලා
එමේලියාව පණ
පිටින් හරි, මරලා හරි
මා ඉදිරියට ගෙනෙන්.
නැතිනම් නුඹේ හිස
ගසලා දමනවා."

මහ ඇමතියා
වයින්, රස කෑම
අරගෙන එමේලියා
හමුවෙන්ට ගියා.
එමේලියාගේ ගෙදරට
ගිහිල්ලා ඔහුට මිදි
වයින් පොවලා කෑම
කැව්වා. එමේලියා
කෑම කාලා වයින්
බීලා වෙරි වෙලා නිදා
ගත්තා. මහ ඇමතියා
ඔහුව කරත්තයක
තබාගෙන රජ
ගෙදරට ගෙන ගියා.
රජා එමේලියාවයි,
දූ කුමරියවයි ලොකු
පීප්පයකට දාලා, එය
වටේට යකඩ පටි
සවි කරලා, පීප්පයට
දුම්මල ලාටු ගාලා,
මහ මුහුදට දමන්නට
නියම කළා.





රාජ සේවකයෝ රජ අණ ඉටු කළා. පීප්පය පාවෙනවා. නිදා හිටිය එමේලියාගේ වෙරි හිඳිලා ඔහුට ඇහැරුණා. පීප්පය ඇතුළෙ කළුවරයි. තදබදයයි.

"මම කොහෙද?" එමේලියා අහනවා.

"බොහොම කම්මැලියි. කළුවරයි. අපි දෙන්නාව පීප්පෙකට දාලා, පීප්පයට දුම්මල ලාටු ගාලා මහ මුහුදට දැම්මා" කවුදෝ කීවා.

"නුඹ කවු ද?"

"මම මාර්යා රජ කුමරිය"

එමේලියා මැතුරුවා.

**"මාළුවාගේ අණ අහපන් - මට ඕනෑ දේ කරපන් මහ මූදේ රැල්ල අපේ පීප්පය සුදු වැල්ලට විසි කරපන්"**

මහ මුහුදේ ලොකු රැල්ලක් ඇති වෙලා පීප්පය සුදු වැල්ලට ගොඩ වුණා. එමේලියයි, මාර්යා කුමරියයි පීප්පයෙන් එළියට ආවා.



"ආදරණීය එමේලියා අපි නවතින්නේ කොහෙද? පොඩි ගෙයක් හදන්න."

"මට කම්මැලියි."

කුමරිය තවත් වරක් ඉල්ලා හිටියා. එමේලියා හෙමිහිට මැතුරුවා.



**"මාළුවාගේ අණ අහපන් - මට ඕනෑ දේ කරපන්**
**රත්තරන් වහලක් එක්ක ලස්සන මාළිගාවක් හදාපන්"**

කීවා විතරයි. රත්තරන් වහලක් ඇති ලස්සන මාළිගාවක් මැවුණා. මාළිගාව වටේට ලස්සන මල් වත්තක්, එහි කුරුල්ලෝ ගී ගයනවා. කුමරියයි, එමේලියායි මාළිගාවට ඇතුළු වෙලා ජනේලය ළඟ වාඩි වුණා.



"එමේලියා, ඔයාට ලස්සන තරුණයෙක් වෙන්න බැරි ද?"

**"මාළුවාගේ අණ අහපන් - මට ඕනෑ දේ කරපන්**
**මාව ලස්සන තරුණයෙක් කරපන්...."**

එවිට එමේලියා කොතරම් ලස්සන තරුණයෙක් වුණා ද, ඒ ගැන කියල ඉවර කරන්ටත් බැහැ, ලියලා ඉවර කරන්නටත් බැහැ.



ටික කාලයකට පස්සේ රජ දඩයමේ ගියා. ඉස්සර පාළු ඉඩමක ලොකු, ලස්සන මාළිගාවක් දැකලා ඔහු පුදුම වුණා.

"මගෙන් අවසර ගන්නේ නැතුව මේ රටේ මළිගාවක් හදාපු උද්දච්ච මිනිහා කවුද?"

තොරතුරු හොයාගෙන එන්ට රජ සේවකයින් පිටත් කළා. සේවකයෝ ගිහිල්ලා, මාළිගාවේ ජනේලයට තට්ටු කරලා ඇසුවා. එමේලියා ඔවුන්ට පිළිතුරු දුන්නා.

"රජතුමාට එන්නයි කියන්න. මම එතුමාව පිළි අරගෙන සංග්‍රහ කරන්නම්. මම එතුමාට මම ගැන කියන්නම්."



රජු ආවා. එමේලියා රජු පිළි අරගෙන මාළිගාවට කැඳවා ගෙන ගිහිල්ලා කෑම මේසයට වාඩි කෙරෙව්වා. කෑමට, බීමට පටන් ගත්තා. රජ කෑවා, බීවා.

"ලස්සන තරුණයා නුඹ කාගේ කවුද?"

"උදුනත් එක්ක රජ ගෙදරට ආපු එමේලියා මෝඩයාව රජතුමාට මතකද? රජ කුමරියත් එක්ක පීප්පයකට දාලා මහ මුහුදට විසි කරපු එමේලියාව මතකද? ඒ තමා මම. මට ඕන නම් රජතුමාගේ රටට ගිනි තියලා විනාශ කරන්ට පුළුවනි."

රජ බොහොම බය වුණා. එමේලියාගෙන් සමාව ඉල්ලා හිටියා.

"එමේලියා, නුඹ මගේ දුවව සරණ පාවා ගනින්. මගේ රටත් නුඹම අරගනින්. මාව මරන්න විතරක් එපා!"

රජ මාළිගාවේ මහ විශාල කෑමක් ලෑස්ති කළා. එමේලියා මාර්යා කුමරිය සරණ පාවා ගෙන රජකමට පත් වුණා.

